ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Adv. Level) Examination, 2023 (2024)

නර්තනය - (දේශීය) II
நடனம் - (தேசிய) II
Dancing - (Indigenous) II

**52 S II**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

**උපදෙස්:**

* මෙම ප්‍රශ්න පත්‍රය I, II හා III වශයෙන් කොටස් **තුනකින්** සමන්විත වේ.
* I කොටසේ 1 හා 2 ප්‍රශ්න අනිවාර්ය වේ.
* II හා III කොටස්වලින් **අවම වශයෙන් එක්** ප්‍රශ්නය බැගින් තෝරාගෙන, අනිවාර්ය ප්‍රශ්න **දෙක** ද ඇතුළු ව ප්‍රශ්න **පහකට** පිළිතුරු සැපයිය යුතු ය.
* සෑම ප්‍රශ්නයකට (i) කොටසට ලකුණු 06ක් ද (ii) කොටසට ලකුණු 06ක් ද (iii) කොටසට ලකුණු 08ක් ද වශයෙන් මුළු ලකුණු 20ක් බැගින් හිමි වේ.

## I කොටස

1. (i) පහත සඳහන් බෙර පද අතුරෙන් ඔබ උගත් සම්ප්‍රදායට අයත් බෙරපදය තෝරාගෙන සමගුණ සහ දෙගුණට ප්‍රස්තාර කරන්න.
   (අ) දොම්කිට කිට දොම් (ආ) රෙගුඳ ගතකු දොම් (ඉ) කිටිතක දොම්කිට
   (ii) පහත සඳහන් කවි පාදය අවග්‍රහයෙන් ආරම්භ කර මැදුම් තනිතිතට ප්‍රස්තාර කරන්න.
   "ධීර ගුණැති දීපංකර මුනි බුදු වෙමිනේ..."
   (iii) සුරපති වන්නමේ කස්තිරම හෝ ගුහදණ්ඩ තාලය සින්දු වන්නමේ ඉරට්ටිය හෝ මෙසඹ වන්නමේ අඩව්ව හෝ ප්‍රස්තාර කරන්න.

2. ශ්‍රී ලාංකේය නර්තන කලාව උදෙසා රාජ්‍ය අනුග්‍රහය ලැබී ඇති බව පුරාවිද්‍යා හා සාහිත්‍ය මූලාශ්‍රය මගින් හෙළි වේ.
   (i) දුටුගැමුණු රජතුමා ආගමික කටයුතු සඳහා නර්තනය සහ වාදනය සම්බන්ධ කරගත් බවට මහාවංශය සහ ථූපවංශය ඇසුරින් **එක්** සාධකය බැගින් ගෙන පැහැදිලි කරන්න.
   (ii) මහා පරාක්‍රමබාහු රජතුමා නාට්‍ය, ගීත ආදී විනෝදාංග සඳහා ද අනුග්‍රහය දක්වා ඇති බව මූලාශ්‍රය **දෙකක්** ඇසුරින් විස්තර කරන්න.
   (iii) සිංහල සාහිත්‍යයේ ස්වර්ණමය යුගය ලෙස සැලකෙන කෝට්ටේ යුගයේ දී නර්තන කලාවට ද හිමිවූයේ ප්‍රමුඛස්ථානයකි. සාධක **හතරක්** ඇසුරින් සාකච්ඡා කරන්න.

## II කොටස

3. දේශීය ශාන්තිකර්ම මගින් සමාජ සහජීවනය සඳහා මෙන්ම මනෝ චිකිත්සනය සඳහා ද උපදේශන සපයයි.
   (i) බලි ශාන්තිකර්ම හා බැඳුණු සමාජ විශ්වාස **දෙකක්** පැහැදිලි කරන්න.
   (ii) ඌරා යක්කමෙන් සමාජ සහජීවනය සඳහා ලබාදෙන උපදේශන **දෙකක්** විමසුමට ලක් කරන්න.
   (iii) සන්නියකුම ශාන්තිකර්මයෙන් මනෝ චිකිත්සනය සිදුවන අයුරු සන්නි චරිතයක් සහ යක්ෂ චරිතයක් ඇසුරින් විග්‍රහ කරන්න.

[දෙවැනි පිටුව බලන්න

4. දේශීය ශාන්තිකර්ම විවිධ අරමුණු සාක්ෂාත් කරගැනීම උදෙසා යොදාගැනී ඇත.

(i) සිරිපුර ශාන්තිකර්මයෙහි ප්‍රාථමික **හතරක්** නම් කර, ඉන් **එකක්** විස්තර කරන්න.

(ii) වලියක් මංගල්‍යය ශාන්තිකර්මයට ආවේණික විශේෂතා **තුනක්** පැහැදිලි කරන්න.

(iii) රටයකුම් හෙවත් රිදී යාගයෙහි පෙළපාලි අංග **හතරක්** නම් කර උණු පියන භාවිත පෙළපාලි අංගයෙහි රංගභාණ්ඩ **දෙකක** උපයෝගීතාව විමසන්න.

5. ගැමි නැටුම හා ගැමි නාටක මගින් සිංහල හා දෙමළ ජනතාවගේ සංස්කෘතික අනන්‍යතා ප්‍රකට කෙරේ.

(i) සටන් කලාව හා බැඳුණු සිංහල ගැමි නැටුමක් සහ ඊට සමාන ද්‍රවිඩ ගැමි නැටුමක් පිළිබඳ විස්තර කරන්න.

(ii) "දෙමළ ගැමි නර්තන, දේව භක්තිය ප්‍රකාශ කිරීම ප්‍රමුඛ කොටගෙන පවත්වනු ලැබේ." කාවඩි සහ කරගම් නර්තන ඇසුරෙන් විමසන්න.

(iii) මුදලි සහ ජස කෝලම් චරිත ඇසුරින් තත්කාලීන සිංහල ගැමි සමාජ පසුබිම පිළිබඳ විග්‍රහ කරන්න.

## III කොටස

6. පහත වගුවෙහි (අ), (ආ) සහ (ඉ) යන කොටස් ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| (අ) කොටස | (ආ) කොටස | (ඉ) කොටස |
|---|---|---|
| පඛාවාජ් | ශිව රංග | හංසවිල |
| කෝල් බෙරය | බැරිසිල් | මැක්බත් |
| මෘදංගය | නලදමයන්ති | නිදි කුමරිය |
| පුං බෙරය | පටාචාරා | නට් ක්‍රැකර් |

(i) (අ) කොටස - භරත නාට්‍යම් නර්තන සම්ප්‍රදායේ භාවිත තාල වාද්‍ය භාණ්ඩය තෝරාගෙන ඒ පිළිබඳ විස්තර කරන්න.

(ii) (ආ) කොටස - 2014 වර්ෂයේ නිෂ්පාදනය කළ දේශීය මුද්‍රා නාට්‍ය තෝරාගෙන එහි චරිත නිරූපණය පිළිබඳ විමසීමට ලක්කරන්න.

(iii) (ඉ) කොටස - 1890 වර්ෂයේදී ප්‍රථමවරට වේදිකාගත වූ බැලේ (Ballet) කෘතිය තෝරාගෙන එහි ප්‍රධාන කාන්තා චරිතය පිළිබඳ විමසන්න.

7. නර්තන කලාව සහ අනෙක් සෞන්දර්ය කලා අතර ඇති සහසම්බන්ධතාව නිර්මාණකරණයේ දී වැදගත් වේ.

(i) ප්‍රාසංගික නර්තන නිර්මාණ සඳහා සංගීතයෙන් ලැබෙන පිටිවහල පිළිබඳ සාකච්ඡා කරන්න.

(ii) නර්තන නිර්මාණකරණය සඳහා චිත්‍ර කලාවේ මූලිකාංග භාවිත කළ හැකි ආකාරය විමසුමට ලක් කරන්න.

(iii) බටහිර බැලේ සහ නෘත්‍ය නාටකවල සමවිෂමතා සංගීතය සහ ඇඳුම් පැළඳුම් යන අංග ඇසුරෙන් ඇගයීමට ලක් කරන්න.

8. (i) රියැලිටි වේදිකාවේ ඉදිරිපත් කරන කණ්ඩායම් නර්තන මගින් දේශීය අනන්‍යතාව සුරැකේ ද? විමසන්න.

(ii) විසිඑක්වන සියවසේ ශ්‍රී ලාංකේය නර්තන කලාව කෙරෙහි කාන්තා දායකත්වය කෙබඳු ද? ඔබේ අදහස් දක්වන්න.

(iii) නූතන නර්තන කලාව පිළිබඳ විමසීමේ දී, දේශීය සංස්කෘතික ලක්ෂණ අභිබවා බටහිර සංකල්පීය ලක්ෂණ ස්ථාපිත වීම කෙරෙහි ජනමාධ්‍ය බලපා ඇත. විචාරය කරන්න.

* * *